මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
**Stamp Bulletin No.** 628

තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය,
ඩී. ආර්. විජේවර්ධන මාවත,
කොළඹ 01000.

සමරු නිකුත් කිරීම
ஞாபகார்த்த வெளியீடு
**Commemorative Issue**




# කන්දේ විහාරය - අළුත්ගම

# கந்தே விஹாரை - அளுத்கம

# Kande Viharaya - Aluthgama

**2007.01.06**

**Philatelic Bureau**
Department of Posts,
Postal Headquarters, D. R. Wijewardena Mawatha,
Colombo 01000, SRI LANKA.

මුද්දර කාර්යාංශය,
තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය,
ඩී. ආර්. විජේවර්ධන මාවත,
කොළඹ 01000.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டி. ஆர். விஜேவர்தன மாவத்தை,
கொழும்பு 01000.

ඓතිහාසික අළුත්ගම කන්දේ විහාරස්ථානයේ රියන් 107 ක් උසැති හිඳි පිළිම වහන්සේ නිරාවරණය කිරීමේ උත්සවය නිමිත්තෙන් රු. 5.00 ක වටිනාකමින් යුත් නව තැපැල් මුද්දරයක් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2007 ජනවාරි මස 06 වැනි දින නිකුත් කෙරේ.

කළුතර දිස්ත්‍රික්කයේ අළුත්ගම්බද්දේ කන්දේ විහරස්ථානය සියළු විහාරාංගයන්ගෙන් සමලංකෘත දෙස් විදෙස් සැමගේ ගෞරවාදර භක්තියට ලක්වූ පුද බිමකි. වැලිවිට සරණංකර සංඝරාජයාණන් වහන්සේගේ ශිෂ්‍යානු ශිෂ්‍යවර ගලපාත රජමහා විහාරාධිපති උඩුගම චන්ද්‍රසාර මාහිමිපාණන්ගේ උපදෙස් මත 1734 දී පමණ ආරම්භ කළ මෙම පුණ්‍ය භූමියෙහි ආදි කර්තෘවහන්සේ ලෙස සැලකෙනුයේ කරපාගල දේවමිත්ත හිමිපාණන්ය. අනතුරුව තවත් මහා තෙරුන් වහන්සේලා 07 නමකගේ ආධිපත්‍ය ලබමින් පැවත ආ කන්දේ විහාරස්ථානයට පොතුවිල ශ්‍රී සරණතිස්ස මාහිමියන් සුවිශේෂ කාර්යභාරයක් ඉටුකළ බව පෙනේ. වර්තමානයේදී කළුතර දිස්ත්‍රික්කයේ හා බෙන්තර වලල්ලාවිට කෝරළයේ ප්‍රධාන සංඝනායක බටුවන්තේනේ බුද්ධරක්ඛිත නාහිමිපාණන් වහන්සේගේ විහාරාධිපතිත්වයෙන් අනගිභවනීය මෙහෙවරක් ඉටුවේ.

මේ ඓතිහාසික බෙත්තාරාම කන්දේ විහාරස්ථානයේ විහාරාංග අතර චෛත්‍ය රාජයාණන් වහන්සේ, බෝධි රාජයාණන් වහන්සේ, සර්වඥ ධාතුමන්දිරය, විහාර ගෙය හා ඊට සම්බන්ධ ශ්‍රී විෂ්ණු මහා දේවාලය, කතරගම දේවාලය සහිත සතර මහා දේවාල ඉතා වැදගත් වේ. එමෙන්ම විහාර භූමියෙන් බැහැරව ඉපැරණි බෝධි රාජයාණන් වහන්සේ ද ශ්‍රී සරණතිස්ස ගුණානුස්මරණ ධර්ම ශාලාවද විනය කර්ම සඳහා වූ පොහොය සීමාවද පිහිටුවා ඇත.

විහාර භූමියෙහි පිහිටි චෛත්‍යරාජයාණන් වහන්සේ ඝණ්ඨාකාර හැඩයෙන් යුක්ත වන අතර එය අටපට්ටම් හැඩයෙන් යුතු කුටියක් මත ඉදි කර ඇත. චෛත්‍ය රාජයාණන් වහන්සේගේ පහල කොටසේ නෙළුම් මල් පෙති සහිත බොරදමක් ද අනතුරුව පේසා වළළුවලින්ද ගර්භයෙන්ද සමන්විත වූ මෙහි හතරැස් කොටුවේ සෑම කොණකින්ම

පහලට එල්ලෙන බෝපත් කැටයමක්ද දක්නට ලැබේ. බුද්ධ වර්ෂ 2327 දි උඩුගම චන්ද්‍රසාර මාහිමියන් විසින් මෙහි ඉතා කුඩාවට තනන ලද ස්තූපය ඇතුළත් කොට බු. ව. 2479 දි පොතුවිල ශ්‍රී සරණ තිස්ස නාහිමින් විසින් අලුතින් අද දක්නට ලැබෙන දාගැබ් වහන්සේ ප්‍රතිෂ්ඨාපනය කරන්නට යෙදුනි.

මෙහි දක්නට ලැබෙන ධාතු මන්දිරය විහාර මළුවේ ඇති පැරණිතම ගොඩනැගිල්ලක් ලෙස සැලකේ. එහි කැටයම් රහිත සඳකඩ පහණ හා පාෂාණමය දොරකඩකින් යුක්ත වූ ධාතු මන්දිරයේ ඇතුල් මාලයේ ධාතු කරඬුව තැන්පත් කොට ඇත. මෙහි සිවිලිමේ හා බිත්තිවල මහනුවර යුගයේ අවසාන භාගයට අයත් චිත්‍ර දැකිය හැක.

වසර 3000 ටත් වඩා පැරණි සේ සැලකෙන ඓතිහාසික බෝධිරජයාණන් වහන්සේ 80 දශකයේදී පමණ හතරැස් කොටුවක් සහිත හතරැස් ප්‍රාකාරයකින් සමන්විත වී තිබුනි. පසුව වර්තමාන විහාරධිපති නාහිමිපාණන් වහන්සේ විසින් අෂ්ටාශ්‍රාකාර බෝධි ප්‍රාකාරයක් හා රන් වැටක් ඉදිකරවන ලදි. බෝධි ප්‍රාකාරය ඇතුළත කුටිවල ජය ශ්‍රී මහා බෝධි ශාඛාව ලංකාවට වැඩමවීම සම්බන්ධ සිදුවීම් පැතිකඩ මූර්ති ලෙස නිර්මාණය කර ඇත.

විහාර මන්දිරය මල්කම්වලින් හා ලියකම්වලින් අලංකෘතව ආරුක්කු හැඩයෙන් යුතු දොරටු 03 කින් සමන්විතව තේජාන්විත තොරණකින් යුක්ත වේ. මෙම විහාර මන්දිරය 1734 දී නිර්මාණය කර ඇති අතර මාල 02 කින් යුතු මෙහි ඇතුළත මාලයේ හිටි පිළිම හිඳි පිළිම, හා සැතපෙන පිළිම වහන්සේලා තෙලා ඇති අතර ශ්‍රාවකයන් වහන්සේලාගේ රූප සිතුවම් කොට ඇත. ඇතුළත මාලයේ දෙරවල්වල ඇඳ ඇති නව නාරි කුංජරය, සප්ත නාරි කේශරය, නව නාරි වෘෂභය, සප්ත නාරි තුරඟය ආදි සිතුවම්ද පිටත මාලයේ සිවිලිමේ හා බිත්තිවල ඇති විවිධ බිතු සිතුවම් ද දක්නට ඇත.

විහාර මන්දිරය පිටත මාලයේ වම් පස, ඉදි කරන ලද මහානුභාවසම්පන්න ශ්‍රී විෂ්ණු දේව මන්දිරය දෙස්විදෙස් බැතිමතුන්ගේ ගෞරවාදරයට ලක්ව ඇත. බුදුන් වහන්සේට වැඳුම් පිදුම් කර ශ්‍රී විෂ්ණු දෙවියන්ට පින් අනුමෝදන් කොට ආශිර්වාද ලබා ගැනිම අතීතයේ සිට පැවත එන්නාවූ සිරිතකි. පිටත මාලයේ වම්පස ලංකා ඉතිහාසයේ සන්ධිස්ථානයක් වන විජයාවතරණය පිලිබඳව සිතුවම් කර ඇත. ඉන් අනතුරුව කතරගම දේවාලයද සතර මහා දේවාලද විහාර මන්දිරය අසල පිහිටුවා ඇත.



විහාර භූමියෙන් පිටත විනය කර්ම කරන සීමාමාලකය දැකිය හැක. විහාර භූමියෙන් පිටත ඇති නෙළුම් පෙති සහිත ප්‍රාකාරයෙන් වටවූ බෝධිරාජයාණන් වහන්සේ විවිධ ජනප්‍රවාදයන් සහිත දිගු ඉතිහාසයකට හිමිකම් කියන්නකි. මෙම බෝධීන් වහන්සේ වටා ඇති නෙළුම් පෙති අතර බුද්ධ ප්‍රතිමා තැන්පත් කර තිබීම අලංකෘතවූ දර්ශනයකි.

නෙළුම් පෙති සහිත බෝධි රාජයාණන් වහන්සේට යාබදව ගොඩනගා ඇති පසුමහල් ප්‍රාසාදයේ ඉහළින්ම තවත් ධාතු මන්දිරයක් දක්නට ලැබේ. ඉන් පහල මාලයේ කෞතුකාගාරයක් ඇති අතර එහි පෞරාණික භාණ්ඩ, ඉපැරනි ග්‍රන්ථ, හා විවිධ දෑ මහජන ප්‍රදර්ශනයට තබා ඇත. කෞතුකාගාරයට පහලින් පිහිටා ඇති මාලයේ ශ්‍රී සරණතිස්ස පුස්තකාලය දක්නට ඇත. මෙම පුස්තකාලයේ වටිනා පොත් පත් රාශියක් ඇති අතර විවිධ ශාස්ත්‍රීය පර්යේෂණ සඳහා උපකාරී වන ලෙස සැලසුම් කරනු ලැබුයේ විහාරාධිපති බටුවන්හේනේ බුද්ධරක්ඛිත නාහිමියන් සහ පරිවේනාධිපති යටදොලවත්තේ අරියවංස ස්වාමීන් වහන්සේ විසිනි.

නෙළුම් පෙති සහිත බෝධිරාජයාණන්ගේ අනෙක් පස සරණතිස්ස ගුණානුස්මරණ ධර්මශාලාව පිහිටා ඇති අතර එහි පවත්වා ගෙන එනු ලබන කෙෂත්‍රාරාම මහ පිරිවෙණ වසර සිය ගණනක් පුරා දැනුම් පවස නිවාලන ශාස්ත්‍රායතනයක් ලෙස අපිරිමිත සේවයක් දැයට සිදු කරයි. 1904 ආරම්භ කරන්නට යෙදුන මෙහි වර්තමාන අධිපතිත්වය දරනුයේ යටදොලවත්තේ අරියවංස හිමිපාණන් විසිනි.

මෙම විවිධ විහාරාංග අතර නව මහකට යොමු වූ දැවැන්තම ව්‍යාපෘතියක් ලෙස ලංකාවේ උසම හිඳි පිළිමය නිර්මාණය කිරීම දැකිය හැක. භූමිස්පර්ශ මුද්‍රාවෙන් යුතු 107 රියන් උසැති පිළිමයේ මංගල ශිලා ප්‍රතිස්තාපනය 2002 නොවැම්බර් මස 10 වන දින සිදු කළ අතර මෙම දැවැන්ත නිර්මාණයේ පෙර ගමන්කරුවෝ නම් වර්තමාන විහාරධිශ්වර බටුවන්හේනේ ශ්‍රී බුද්ධරක්ඛිත නාහිමියන් සහ පරිවේණාධිශ්වර යටදොලවත්තේ අරියවංස හිමිපාණන් වහන්සේලායි. ලංකාවේ විශාලතම බුද්ධ ප්‍රතිමාව වන මෙය පත්මයක් මත වීරාසන ක්‍රමයෙන් නිර්මාණය කර ඇත. මෙම ප්‍රතිමා වහන්සේට සම්බන්ධ ගොඩනැගිල්ලේ විවිධ සිතුවම් හා මූර්ති දැකිය හැක.

ප්‍රතිමා වහන්සේ වැඳපුදාගන්නට එන පියගැටපෙළ දර්ශනීය කොරවක් ගලින් හා මුරගල්වලින්ද සඳකඩ පහණින්ද සමලංකෘතව ඇත. ඊට අනුබද්ධ සාන්චි තොරණින් එහි ගාම්භීර බවත් තේජාන්විත

බවත් තීව්‍ර කරයි. 2002 නොවැම්බර් මස ආරම්භ කළ මෙම දැවන්ත නිර්මාණය 2007 ජනවාරි මස මෙහි වැඩකටයුතු නිමා කර සමස්ත ලෝකවාසි බෞද්ධයන්ගේ වන්දනීයත්වයට බඳුන් කරවීම විහාරාධිපති බටුවන්හේනේ ශ්‍රී බුද්ධරක්ඛිත ස්වාමීන්ද්‍රයන් වහන්සේත් පරිවේණාධිපති යටදොලවත්තේ අරියවංස හිමියන්ගේත් අප්‍රතිහත ධෛර්යයේ ප්‍රතිඵලයක් වේ. සමස්ත බෞද්ධ ජනතාවගේ බහුමානයට පාත්‍ර වන විශ්මිත නිර්මාණයක් වන මෙම ප්‍රතිමා වහන්සේ කන්දේ විහාරස්ථානයේ පූජනීය බව තවත්වත් විදහා දක්වන්නකි.

## මුද්දරය පිළිබඳ විස්තරය

| | | |
|---|---|---|
| *නිකුත් කරන දිනය* | : | 2007 ජනවාරි මස 06 වැනි දින |
| *වටිනාකම* | : | රු. 5.00 |
| *සැලසුම්කරු* | : | ගාමිණී අබේකෝන් |
| *ප්‍රමාණය* | : | මි.මී. 41 x මි.මී. 30 |
| *හැඩය* | : | තිරස් |
| *මුද්‍රණ ක්‍රමය* | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| *පත් සැකැස්ම* | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| *සිදුරු ප්‍රමාණය* | : | 14 x 13 1/2 |
| *මුද්‍රණකරුවෝ* | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| *වර්ණ* | : | හතරයි |
| *කඩදාසි වර්ගය* | : | 102 ජී.එස්.එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| *මැලියම්* | : | පීවීඒ |
| *මුද්‍රණය කළ ප්‍රමාණය* | : | 10,00,000 |

*පසුගිය නිකුත් කිරීම:*

අම්බුළුවාව - 2006.12.18



அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டீ. ஆர். விஜேவர்தன மாவத்தை,
கொழும்பு 01000.

அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் அளுத்கமையிலுள்ள சரித்திர பிரசித்திபெற்ற கந்தே விஹாரையில் 107 ரியான்கள் உயரமுள்ள அமர்ந்த நிலையிலான புத்தர் உருவச் சிலையை திறந்து வைத்தலை நினைவுகூருமுகமாக வைபவத்தின் நிமித்தம் 2007 சனவரி 6 ஆந் திகதியன்று ரூபா 5.00 பெறுமதியான தபால் முத்திரையை வெளியிடுகின்றது.

களுத்துறை மாவட்டத்தின் அளுத்கமை கந்தே விஹாரையானது, பௌத்த கோயிலின் சகல முக்கிய அம்சங்களினாலும் பூர்த்தி அடைந்துள்ள நிறைவான வழிபாட்டுத் தலமாக இருக்கின்றது. அத்துடன் உள்ளூர் மற்றும் வெளிநாடு ஆகிய இரண்டிலும் வணக்கத்திற்குரிய தலமாகவும் விளங்குகின்றது. இப்புனிதத் தலம், வணக்கத்திற்குரிய வெலிவிட்ட சரணங்கர சங்கராஜா அவர்களின் சீடனும் கலபத்த ரஜமஹா விஹாரையின் பிரதம மதகுருவுமான வணக்கத்திற்குரிய உடுகம சந்திரசார தேரர் அவர்களின் அறிவுறுத்தலினால் வணக்கத்திற்குரிய கரபாகல தேவனிட்ட தேரர் அவர்களால் 1734 இல் ஸ்தாபிக்கப்பட்டது. அதன் பின்னர் கந்தே விஹாரையானது, ஏழு மஹா தேரர்களின் மத்தியில் அதி உன்னத சேவையை அர்ப்பணித்த வணக்கத்திற்குரிய பொத்துவில ஸ்ரீ சரணதிஸ்ஸ தேரரின் தலைமையின் கீழ் முன்னேற்ற வழிநடத்தல்கள் மேற்கொள்ளப்பட்டது. தற்போது இவ்விஹாரையானது, பெந்தர-வலல்லாவிட்ட கோறளையினதும் களுத்துறை மாவட்டத்தினதுமான பிரதம சங்க நாயக்கரான வணக்கத்திற்குரிய பட்டுவன்ஹெனே புத்தரகித்த தேரர் பிரதம குரு அவர்களின் தலைமையின் கீழ் பொது மக்களுக்கு விலைமதிக்க முடியாத சேவையை அளிக்கின்றது.

சரித்திர புகழ்பெற்ற கெத்தாராம விஹாரை, தூபி, அரச மரம், கூடம், விம்ப இல்லம், ஸ்ரீ விஷ்ணு மஹா ஆலயம் மற்றும் கதிர்காம ஆலயமுட்பட நான்கு மஹா ஆலயங்களைக் கொண்டு தன் முக்கியத்துவத்தில் சிறந்து விளங்குகின்றது. விஹாரை வளவுகளுக்கு வெளியே பழமைவாய்ந்த அரசமரம்

ஸ்ரீ சரணதிஸ்ஸ ஞாபகார்த்த தம்ம மண்டபம் மற்றும் "வினை கர்மங்கள்" என கருதப்படும் "போயா சீ-மா" ஆகியவை அமைந்துள்ளன.

விஹாரை வளவினுள் 'தூபி' அமைப்பினால் காணப்படும் மணி, எண்கோண தங்குமிடத்தினுள் அமைக்கப்பட்டுள்ளது. தூபியின் அடிப்பாகத்தில் தாமரை இதழ் அமைப்பில் இருக்கின்றது. அதன் மேல் மூன்று அடித்தள உபரிகைகள், குவிந்த மண்டபம், அம்மண்டபத்தின் மீது சதுர வேலி அமைப்பினுள் ஒவ்வொரு மூலையிலும் அரச இலை வடிவமைப்புடனும் இருக்கின்றன. புத்த வருடம் 2339 ஆம் ஆண்டில் வண. உடுகம சந்திரசார தேரர் மிகச் சிறிய அளவிலான தூபியை அமைத்தார். அதனைச் சுற்றி ஒரு பெரிய தூபி வண. சரண திஸ்ஸ நாயக்க தேரரால், புத்த ஆண்டு 2479 இல் நிறுவப்பட்டது.

புனித தந்த கூடமானது, இவ்வாலய வளவுகளிலுள்ள பழைய கட்டிடமாக இருக்கலாம் என இங்கு உத்தேசிக்கப்படுகின்றது. இக்கூட வாயிலின் தளத்தில் ஒரு சந்திரக்கல் ஒன்றும் கல்லினால் வடிவமைக்கப்பட்ட கதவு சட்டகம் ஒன்றும் இருக்கின்றன. புனித தந்த பேழை, உள் கூடத்தில் வைக்கப்பட்டுள்ளது. மேற்கூரை மற்றும் சுவர்கள் கண்டியர் காலப்பகுதியின் பிற்காலப்பகுதிய வர்ணங்களினால் அலங்கரிக்கப்பட்டிருக்கின்றன.

இங்குள்ள அரச மரம் 300 ஆண்டுகளுக்கு மேல் பின்நோக்கி செல்லும் சரித்திரத்தை கொண்டுள்ளது. 1980 களில் அவ் அரச மரத்தைச் சுற்றி சதுர வடிவில் சுவர் அமைக்கப்பட்டுள்ளது. அண்மையில், தற்போதைய பிரதம மதகுரு சதுர அளவிலான சுவரின் இடத்தில் எண்கோண சுவரை அமைத்தார். இலங்கைக்கு ஸ்ரீ மகா போதி கொண்டுவரப்பட்டது தொடர்பான நிகழ்ச்சிகளை குறிப்பதற்கான கல்வெட்டுக்கள் இச்சுவரின் சிற்றறைகளினுள்ளே காணப்படுகின்றன.

இவ்விம்ப இல்லமானது கண்ணீர்க்கும் தோரணம் மற்றும் மூன்று வில் வடிவிலான வாயில்கள் ஆகியவற்றுடன் சேர்த்து மலர் வடிவமைப்பு மற்றும் ஊர்வன வடிவமைப்புக்களுடன் அலங்காரமாக காட்சியளிக்கின்றது. இவ்விம்ப இல்லம் 1731 இல் உள்கூடம் மற்றும் வெளிக்கூடத்துடன் அமைக்கப்பட்டுள்ளது. உள்கூடத்தினுள்ளே நின்ற, அமர்ந்த மற்றும் சயனித்த வடிவமைப்பிலான புத்தர் உருவச்சிலைகள் இருக்கின்றன. சிராவக்கதேரர்களின் உருவங்களும் வர்ணம் தீட்டப்பட்டுள்ளன. வெளிக்கூடத்தின் மேற்கூரை மற்றும் சுவர்கள் பல வர்ணங்களில் அலங்கரிக்கப்பட்டிருக்கும் அதே வேளை, உள் கூடத்தின் கதவுகளின் மீது சப்த நாரி துரங்க, நவ நாரி விருஷப, சப்த நாரி கேசர, நவ நாரி குண் கர என அறியப்பட்ட சித்திரக்கலை விடயங்கள் வரையறுக்கப்பட்டுள்ளன. விம்ப இல்ல வெளிக் கூடத்தின் இடது பக்கத்தில் சில "தேவ மாளிகை" களுக்கான நிலைகள், இலங்கை மக்கள் போன்றே வெளிநாட்டு பக்தர்களும் வணங்குவதற்கும் மதிப்பதற்குமான விஷ்ணு தெய்வத்தின் பெயரில் கட்டியிருக்கிறார்கள். பக்தர்களின் மிகப் பழைய வழக்கமாக புத்த பிரானை முதலில் தரிசித்து அதன் பின்னர் ஆசீர்வாதம் பெறுவதற்கு தங்கள் கவனத்தை விஷ்ணு தெய்வத்தின் பால் ஈர்ப்பர். வெளிக்கூடத்தின் இடது பக்கத்தில் விஜயனின் வருகை தொடர்பான நிகழ்வுகள் வர்ணம் தீட்டப்படுள்ளன. கதிர்காம ஆலயம் மற்றும் நான்கு ஆலயங்கள் விம்ப இல்லத்திற்கு அருகாமையில் அமைக்கப்பட்டுள்ளன.

விஹாரை வளவுகளுக்கு வெளியே "வினை கர்மம்" நடாத்தும் "சீமா மாலக்க" இருக்கின்றது. விகாரைகளுக்கு வெளியே தாமரை இதழ்களாலாக்கப்பட்ட சுவர்களினால் சூழப்பட்ட அரச மரம் இருக்கிறது. இவ் அரச மரம் பல புராதன கதைகளை தன்னகத்தே கொண்டுள்ளது. இது நீண்ட சரித்திரத்தின் ஓர் அங்கமாகும். புத்த உருவச் சிலைகள் அரச மரத்தைச் சுற்றி தாமரை இதழ்கள் மீது வைக்கப்பட்டுள்ள மையானது கண்கவரும் பார்வையாளரை வசீகரிக்கும் காட்சியாக ஆக்கப்பட்டுள்ளன.

அரச மரத்தை தொடர்ந்து ஐந்து மாடிக் கட்டிடம் ஒன்று இருக்கின்றது. அதன் உச்சியில் இன்னுமொரு புனித தந்த கூடத்தை இத்தளத்தில் காணலாம். அதன் கீழ், புராதன பொருட்கள், புராதன ஏடுகள் மற்றும் பல்வேறு பொருட்களுடனான அரும்பொருட் காட்சிசாலை மக்கள் பார்வைக்காக அமைக்கப்பட்டுள்ளது. கீழ் தளத்தினுள்ளே ஸ்ரீ சரணதிஸ்ஸ ஞாபகார்த்த நூல் நிலையம் அமைந்துள்ளது. இந்நூல் நிலையத்தில் எண்ணற்ற பெறுமதிமிக்க புத்தகங்களை பெறலாம். இது, வண. பட்டுவன்ஹெனே புத்தரகித்த நாயக்க

தேரர் மற்றும் யட்ட தொலவத்தே ஆரியவன்ச தேரர் ஆகி யோரால் கல்வி ஆராய்ச்சியை கட்டியெழுப்புவதற்காக திட்ட மிடப்பட்டது.

தாமரை இதழ்களால் அலங்கரிக்கப்பட்ட அரச மரத்தின் மறுப்பக்கத்தில் செத்தாராம மஹா பிரிவேனா வகுப்புகளை நடாத்துகின்ற சரணதிஸ்ஸ தம்ம மண்டபம் இருக்கின்றது. கடந்த பல நூற்றாண்டுகளாக உயர் மதிப்பு பெற்ற கல்வி நிறுவனமாக இருக்கின்ற இப்பிரிவெனா, இந்நாட்டு மக்களுக்கு அளப்பரிய சேவையை இன்றும் நடத்துகிறது. 1904 ஆம் ஆண்டில் தாபிக்கப்பட்ட இந்நிறுவனம் வண. யட்டதொலவத்தே ஆரியவன்ச தேரரின் தலைமையில் நடக்கின்றது. புதிதாக ஆரம்பிக்கப்பட்ட இவ்விஹாரையின் மாபெரும் செயற்றிட்டமே இலங்கையின் அதியுயர்ந்த புத்த உருவச்சிலை நிர்மாணத்திற்கான செயற்றிட்டமாகும். "பூமிஸ்பர்ஷ மதுர" குறித்துக்காட்டும் 107 ரியான்கள் உயரமுடைய புத்த உருவச்சிலைக்கான அடிக்கல் நாட்டு விழா 2002 திசெம்பர் 07 ஆந் திகதி இடம்பெற்றது. இம்மாபெரும் செயற்றிட்டத்தினை அர்ப்பணித்தோர் வணக்கத்திற்குரிய பட்டுவன் ஹெனே ஸ்ரீ புத்தரகித்த நாயக்க தேரர், தற்போதைய பிரதம குரு மற்றும் வண. யட்டதொலவத்தே ஆரியவன்ச தேரர் (பிரிவெனாவின் அதிபர்) ஆகியோர் ஆவர். இலங்கையின் அதியுயர்ந்த புத்த உருவச்சிலை தாமரை மலர்மீது "வீரவன்ச" நிலையை குறிக்குமாறு அமைக்கப்பட்டுள்ளது. இவ்வுருவச் சிலையின் தங்குமிடமானது பல்வேறு சமய வர்ணந்தீட்டலாகவும் கல்வெட்டு அமைப்பு நிகழ்வாகவும் இருக்கும்.

இவ்வுருவ சிலைக்கு இட்டுச்செல்லும் படிக்கட்டுக்கள் 'கொரவக்'கள், பாதுகாப்பு கற்கள் மற்றும் சந்திரக்கற்களினால் அலங்கரிக்கப்பட்டுள்ளன. அதன் மேன்மை மற்றும் புனிதத்தன்மை, 'சஞ்சி' தோரணையினால் அதிகரிக்கின்றது. 2002 திசெம்பரில் அதன் வேலைகளை ஆரம்பித்து செயற்றிட்டத்தை வண. பட்டுவன்ஹெனே புத்தரகித்த தேரர், பிரதம குரு மற்றும் வண. யட்டதொலவத்தே ஆரியவன்ச தேரர் (பிரிவெனாவின் அதிபர்) ஆகியோரால் 2002 சனவரியில் பொது மக்களின் வணக்கத்திற்காக திறப்பதற்கு அரும்பாடுபட்டனர். அற்புதமான பொது மக்கள் வழிபாட்டு தலமாக இருக்கின்ற இப்புத்தபிம்பம் கந்தே விஹாரையின் புனித த்துவத்தை மேலும் கூட்டும்.



## தொழில்நுட்ப விபரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 2007, சனவரி 06 |
| இனப்பெறுமதி | : | ரூபா 5.00 |
| வடிவமைப்பாளர் | : | காமினி அபேகோன் |
| வடிவம் | : | கிடையானது |
| முத்திரை அளவு | : | 41 மி.மீ. x 30 மி.மீ. |
| அச்சீட்டு செயல்முறை | : | எதிர்ப்படி கல்லச்சுமுறை |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : | 14 x 13 1/2 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை. |
| பாவிக்கப்பட்ட நிறங்கள் | : | 4 நிறங்கள் |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| பசை | : | பிவிஏ |
| அச்சடித்த தொகை | : | 10,00,000 |

**முன்னைய வெளியீடு :**

அம்புளுவாவ – 2006.12.18

Department of Posts,
Postal Headquarters,
D.R. Wijewardane Mawatha,
Colombo 01000.

The Philatelic Bureau of the Department of Posts will issue a new postage stamp in the denomination of Rs. 5.00 on 6th January, 2007, on the occasion of opening of the sedent Buddha statue of 107 riyans in height at the historical Kande Vihara in Aluthgama.

Kande Vihara of Atulgambadde in Kalutara District is a perfect place of worship complete with all the essential components of a Buddhist temple and receives veneration of people both home and abroad. This sacred place was founded by Venerable Karapagala Dewamitta Thero in about 1734 on the advise of Venerable Udugama Chandrasara Thero, Chief incumbent of Raja Maha Vihara Galapatha and a pupil of Venerable Welivita Saranankara Sangha Raja. Subsequently Kande Vihara has taken the path of prograss under the leadership of seven Maha Theros among whom Venerable Pothuwila Sri Saranatissa Thero rendered significant services. At present the Vihara renders invaluable services to the public under the chief incumbency of Venerable Batuwanhene Buddharakkhita Thero, the chief Sangha Nayake of Kalutara District and Bentara Walallawita korale.

This historical Khettarama Kande Vihare has enriched its importance with the presence of the Stupa, Bo Tree, Relic Chamber, Image House, Sri Vishnu Maha Devala and the four maha Devalas including Kataragama Devale. Outside the vihara premises, the ancient Bo Tree, Sri Saranatissa Memorial Dhamma Hall and the Poya See-ma meant for Vinaya Kamma are situated.

The bell shaped stupa found in the Vihara premises has been erected within an octagonal Shelters. At the base of the stupa there is a moulding of flower petals and above it are the three basal terraces, then the dome and upon the dome the square enclosures with a Bo leaf engraving in each corner. In the year 2327 of the Buddhist era Ven Udugama Chandrasara Thero erected a stupa of very small size and enclosing it a large stupa was erected in the year 2479 of the Buddhist era by Ven Pothuwila Sri Saranatissa Nayaka Thero.



Relic chamber here is supposed to be oldest building is the temple premises. At the entrance to the chamber there is a moonstone on the ground and a door frame made of stone. The relic casket has been placed inside the inner chamber. Ceiling and the walls have been decorated with paintings belonging to the latter part of the Kandyan period.

The Bo tree has a history going back to more than 300 years. In 1980s wall has been erected in the shape of a square enclosing the Bo tree. Recently, the present chief incumbent Thero erected an octagonal wall in place of the earlier square size wall. Sculptures for depicting the events relating to the bringing of the Branch of Sri Maha Bodhi to Sri Lanka are found inside the cells of the wall.

The image house looks attractive with floral designs and creeper designs together with three arch shaped entrances and a magnetic looking Thorana. The image house had been erected in 1731 with an inner chamber and an outer chamber. Inside the inner chamber there are Buddha images in the standing, seated and sleeping postures. Figures of Sravaka Theros have also been painted. On the doors of the inner chamber artistic items known as Nava Nari Kungara, Sapta Nari Kesara, Nava Nari Vrishabha, and Saptha Nari Thuranga have been drawn while the ceiling and the walls of the outer chamber have been decorated with various types of mural paintings.

On the left the outer chamber of the image house the stands aware for some Deva Mandira Builts in the name of God Vishnu respected and venerated by Sri Lankan as well as foreign devotees. It is an age old custom of devotees to pay homage to

Buddha first and transfer merit to God Vishnu thereafter with the hope of receiving blessings. On the left of the outer chamber events pertaining to Vijayas arrival have been painted. Kataragama Devala and the four Mahha Devalas have been located close to the image house.

Outside the vihara premises there is the Seema Malaka Where Vinaya Kamma are performed. Outside the Vihara is the Bo Tree surrounded by the lotus petalled wall the Bo Tree has many legends behind it and it is and object of long history. The Buddha images place on lotus petal around the Bo Tree created a very fascinating and spectacular scene.

Adjoining the Bo Tree, there is a five storied building on the top of which we can see another relic chamber inside the floor below it a museum with antiquities ancient books and various other items are on display for public view inside the next lower floor. Sri Saranatissa Memorial Library has been housed. Numerous valuable books are available in this library. It has been planned to built academic research by Ven. Batuwanhene Buddharakkitha Nayaka Thero and Yatadolawatte Ariyawansa Thero.

On the other side of the Bo Tree decorated with lotus petals there is the Saranatyissa Dhamma Hall wherein classes of Kshetharama Maha Pirivena are held. There Pirivena being an educational institution of high reputation for the last several hundred years renders even at present invaluable service to the nation. Founded in 1904 the Pirivena is headed by Ven. Yatadolawatte Ariyawansa Thero.

The newly started massive project of the Vihara is the project for construction of the highest Buddha statue in Sri Lanka. Laying of the foundation stone for the Buddha statue of 107 riyans in height depicting the Bhoomisparsha Mudra took place on 10th November, 2002. The pioneers of this Giant Project are Venerable Batuwanhene Sri Buddharakkitha Nayaka Thero, the present Chief incumbent and Ven. Yatadolawatte Ariyawansa Thero, Principal of the Pirivena. The Buddha



statue which would be the largest in Sri Lanka has been erected so as to depict the Weerasena posture on a lotus flower. The shelter of the statue will have various religious paintings and events sculptured foam.

The Staircase leading to the statue will be adorned with Korawak Gal, the Guard stones and moonstones. Its majesty and the sacredness will be augmented by Sanchi Thorana. The project commenced it work in November 2002 Ven. Batuwanhene Buddhaarakkitha Thero, the chief incumbent and Ven. Yatadolawatte Ariayawansa Thero, the principal are straining hard to complete this project and to open it for veneration of the public in January, 2007. This wounderful Buddha image which would be the centre of veneration of the public will add to the sacredness of Kande Vihare.

## Details of the Issue

| | | |
|---|---|---|
| *Date of Issue* | : | 06th January, 2007 |
| *Denomination* | : | Rs. 5.00 |
| *Designer* | : | Gamini Abaykoon |
| *Stamp Size* | : | 41 mm. x 30 mm. |
| *Format* | : | Horizontal |
| *Printing Process* | : | Offset Lithography |
| *Sheet Composition* | : | 100 stamps per sheet |
| *Perforations* | : | 14 x 13 1/2 |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka |
| *Colours* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security Stamp Paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | 1,000,000 |

***Previous Issue:***

Ambuluwawa - 18.12.2006